මේ තීරයේ කිසිවක් නො ලියන්න.

**3.** (A) ප්‍රෝටීන ප්‍රභවයන් ලෝක ආහාර නිෂ්පාදනයේ වැදගත් කාර්යයක් ඉටු කරනු ලබයි. ඉහළ ප්‍රෝටීන ප්‍රමාණයක් සැපයිය හැකි ශාකමය ආහාර ප්‍රභවයන් **දෙකක්** නම් කරන්න.

(1) සෝයා බෝංචි

(2) මුං ඇට

(B) පුද්ගලයකුගේ ජීවනරටාව අනුව නිරීක්ෂණය කළ හැකි ආහාර පුරුදු **දෙකක්** සඳහන් කරන්න.

(1) නිර්මාංශ වීම

(2) ක්ෂණික ආහාරවලට හුරු වීම

(C) කිරි නිෂ්පාදනයක පහත ගුණාත්මක තත්ත්වයන් සඳහා අවශ්‍ය ප්‍රධාන සාධකය/ක්‍රියාව සඳහන් කරන්න.

(1) අයිස්ක්‍රීම් වල පරිමාව වැඩිවීම (overrun) : වාතය ඇතුළු කිරීමට beat කිරීම

(2) යෝගට්වල යෝග්‍ය ඝනභාවය : ආම්ලික මාධ්‍යයක ප්‍රෝටීන අස්වාභාවිකරණය හා ජෙලටීන්වල ක්‍රියාව

(D) සකස් කරන ලද ආහාර දීර්ඝ කාලයක් ආරක්ෂිතව ගබඩා කළ හැක. පහත සඳහන් සකස් කළ ආහාර පරිරක්ෂණයේදී බලපාන ප්‍රධාන සාධකය සඳහන් කරන්න.

(1) ශීත කළ මසුන් උෂ්ණත්ව

(2) මස් සොසේජස් ක්ෂුද්‍ර ජීවීන්

(E) අඹරන ලද මාලු වලින් නිපදවන මත්ස්‍ය නිෂ්පාදන **දෙකක්** නම් කරන්න.

(1) මාළු බෝල

(2) මාළු සොසේජස්

(F) දිසිදි පොල් යනු, වෙළඳපලෙහි ඉහළ ඉල්ලුමක් ඇති නිෂ්පාදනයකි. දිසිදි පොල්වල භාවිතයන් **දෙකක්** ලැයිස්තුගත කරන්න.

(1) බිස්කට්, / රසකැවිලි

(2) චොකලට් වර්ග / පොල්පිටි කිරි

(G) කුළුබඩු පරිභෝජනය මගින් ලබාගත හැකි අතිරේක වාසි **දෙකක්** ලැයිස්තුගත කරන්න.

(1) කොලොස්ටරෝල් වැනි රෝග පාලනය

(2) සෙම් රෝග පාලනය, අජීර්ණ රෝග පාලනය, ආහාර රුචිය ඇති කිරීම

(H) ප්ලාස්ටික් තන්තු පදනම් වූ ආහාර ඇසුරුම් **හතරක්** ලැයිස්තුගත කරන්න.

(1) ජල බෝතල්

(2) ආහාර බඳුන්

(3) අයිස් ක්‍රීම් බඳුන්

(4) රස කැවිලි බඳුන්

[ඉතිරි පිටුව බලන්න

මෙම තීරයේ කිසිවක් නො ලියන්න.

(I) තත්ත්ව සහතික පද්ධතීන් ආහාර නිෂ්පාදනයක තත්ත්වය සහතික කිරීමට උපකාරී වේ. තත්ත්ව සහතික පද්ධතීන් **හතරක්** සඳහන් කරන්න.

(1) **GAP**

(2) **GMP**

(3) **GHP**

(4) **HACCP**

(J) ක්ෂුද්‍රජීවී අපවිත්‍රණය නිසා ආහාර මිනිස් පරිභෝජනයට නුසුදුසු තත්ත්වයට පත් වේ. ක්ෂුද්‍රජීවී අපවිත්‍රණය අවම කිරීම සඳහා ආහාර නිෂ්පාදකයන්ට ගතහැකි පූර්ව ආරක්ෂක ක්‍රම **තුනක්** සඳහන් කරන්න.

(1) **නිෂ්පාදනාගාරය නිතර පිරිසිදු කිරීම, ආහාර සැකසුම්කරුවන්ගේ ස්වස්ථතාව පවත්වා ගැනීම**

(2) **භාවිතා කරන උපකරණ පිරිසිදු කර භාවිතය**

(3) **නිෂ්පාදන ක්‍රියාවලියකට පිරිසිදු ජලය භාවිතය**

**4.** (A) කැල්සියම් මානව පෝෂණයේ වැදගත් මෙහෙයක් ඉටු කරනු ලබයි. කැල්සියම් සුලබ ආහාර ප්‍රභව **හතරක්** සඳහන් කරන්න.

(1) **නැවුම් කිරි**

(2) **කුඩා මසුන්**

(3) **පලා වර්ග**

(4) **මාංශ බෝග හා ධාන්‍ය**

(B) ආහාර නිෂ්පාදනයක තත්ත්වය වැඩිදියුණු කිරීමට රාජ්‍ය ආයතන උපකාරී විය හැක. ළළවළවල ගුණාත්මය පිළිබඳ තොරතුරු සැපයිය හැකි ශ්‍රී ලංකාවේ රාජ්‍ය ආයතන **දෙකක්** ලැයිස්තුගත කරන්න.

(1) **PSTI ආයතනය**

(2) **ITI**

(C) (i) පිෂ්ඨය ජෙලටීනීකරනයේදී සිදුවන ප්‍රධාන භෞතික වෙනස්වීම් **තුනක්** සඳහන් කරන්න.

(1) **පිෂ්ඨ කනිකා ජලය උරා ගැනීම**

(2) **පිෂ්ඨ කනිකාවල පරිමාව වැඩිවීම**

(3) **පිෂ්ඨ කනිකා පිපිරී ඇමයිලෝස් අංශු පිටතට පැමිණීම**

(ii) යෝගට් සැකසීමේ ක්‍රියාවලියෙහි, කිරි කැටිගැසීමේදී සිදුවන ප්‍රධාන භෞත-රසායනික වෙනස්කම් **දෙකක්** සඳහන් කරන්න.

(1) **කිරිවල ඇති ලැක්ටෝස් ලැක්ටික් අම්ලය බවට පත්වීම**

(2) **ආම්ලික මාධ්‍ය හමුවේ කේසීන් අවක්ෂේප වීම**

(D) (i) තැම්බූ සහල් සැකසීමේ ක්‍රියාවලියෙහි පළමු ඒකක ක්‍රියා **පහ** නිවැරදි අනුපිළිවෙළින් සඳහන් කරන්න.

(1) **වියලන ලද වී වල අපද්‍රව්‍ය ඉවත් කිරීම**

(2) **ජලයේ පෙගවීම**

(3) **හුමාලයෙන් හෝ ජලය මගින් තැම්බීම**

(4) **වියලීම**

(5) **පොතු ඉවත් කිරීම**

[ඉතිරිය පිටුව බලන්න

(ii) ආහාර විවිධාංගීකරණයේ වාසි **තුනක්** සඳහන් කරන්න.

(1) **රුචිකත්වය අනුව තෝරා ගත හැකි වීම**

(2) **පරිරක්ෂණයක් සිදුවන නිසා අපතේ යාම අඩු වීම**

(3) **විවිධ මිල ගණන් යටතේ අලෙවි කළ හැකි වීම (ආදායම වැඩි වීම)**

(E) (i) නාගරික ජනතාව අතර අවම ලෙස සැකසූ පලතුරු හා එළවළු සඳහා ඉහළ ඉල්ලුමක් ඇතිවීමට හේතු **තුනක්** සඳහන් කරන්න.

(1) **කාර්ය බහුල ජීවිත ගත කිරීම**

**පහසුවෙන් ආහාරයට ගත හැකි වීම**

(2) **කුඩා ප්‍රමාණවලින් මිල දී ගත හැකි වීම**

(3)

(ii) එළවළු විජලනය සඳහා විවෘත හිරු එළියේ වියළීමට සාපේක්ෂව සූර්යය වියළනයක් භාවිතයේ වාසි **තුනක්** ලියන්න.

(1) **බාහිර අපද්‍රව්‍ය එකතු වීම අඩු වීම**

(2) **වර්ණය ආරක්ෂා වීම**

(3) **විජලනයේ දී හැඩය වෙනස් නොවීම**

**උෂ්ණත්වය වැඩි නිසා ඉක්මණින් වියළා ගත හැකි වීම**

* *

**05. (i) ජාතික වනජීවී අභය භූමි කළමනාකරණයේදී තාක්‍ෂණයේ යොදාගැනීම් පිළිබඳ රචනාවක් ලියන්න.**

**ජාතික වනජීවී අභය භූමි - වන ජීවීන්ට නිදහසේ සහ නිදැල්ලේ ජීවත් වීමට හැකි මානව ක්‍රියාකාරකම් සහිතව පාලනය වන ප්‍රදේශයකි.**

***(ලකුණු 10)***

1. සතුන්ගේ චර්යා හැසිරීම් රටා අධ්‍යයනය කිරීම සඳහා CCTV කැමරා පද්ධති භාවිතය.

2. සතුන් සිටින ස්ථාන දැන ගැනීම සඳහා උදා :- GPS / Scaner / Radar

3. අභයභූමිය සිතියම් පරිගණක ගත කර තිබීම. - Digital Imaging

4. සංචාරකයින්ට තොරතුරු සැපයීමට වෙබ් අඩවි යොදා ගැනීම.

5. අභය භූමියේ කසල, අප ජලය ප්‍රතිචක්‍රීකරණය කිරීම සඳහා නව තාක්‍ෂණ ක්‍රම යොදා ගැනීම.
   උදා :- දිරායන ප්ලාස්ටික්, වීදුරු - Bio plastics

6. වන ජීවීන් සිටින ස්ථාන හඳුනා ගැනීම සඳහා තාක්‍ෂණ ක්‍රම අනුගමනය කිරීම.
   උදා :- ජලජ ජීවීන් වන කැස්බෑවන්, මාලුන් හඳුනා ගැනීමට - Tagging

7. අභය භූමි තුළ වැඩ කරන සේවකයන් සඳහා GPS තාක්‍ෂණය යොදා ගැනීම.

8. වියළි කාලයට ජලය නැති ස්ථානවලට ජලය සැපයීමට තාක්‍ෂණික ක්‍රම භාවිතය.

***(කරුණු 05 කට ලකුණු 08 බැගින් 5 x 8 = ලකුණු 40)***





**(ii) උපරිම ලාභ ලැබීමේ අරමුණින් ව්‍යාපාරයක් ආරම්භ කිරීමේදී තොරතුරු තාක්‍ෂණය යොදාගැනීමේ වැදගත්කම විස්තර කරන්න.**

**තොරතුරු තාක්‍ෂණය යනු , -**

දත්ත ගබඩා කිරීම, නැවත ලබා ගැනීම හා සන්නිවේදනය සඳහා පරිගණක පද්ධති හෝ සන්නිවේදන පද්ධති යොදගැනීම.

*(ලකුණු 10)*

01. ව්‍යාපාරය පිළිබඳ තොරතුරු ලබාගැනීමට
02. නිෂ්පාදනය සඳහා වෙළඳපොළ ඉල්ලුම හා සැපයුම පිළිබඳ තොරතුරු ලබාගැනීමට
03. තම ව්‍යාපාරයේ නිෂ්පාදන පිළිබඳ වෙළඳපොළ සංඛ්‍යාලේඛන ලබාගැනීම තුළින් නිෂ්පාදන ඉලක්ක හඳුනාගැනීම හා වෙළඳපොළ සැපයුමට දායකවන ආකාරය පිළිබඳව තීරණ ගැනීමට
04. එදිනෙදා කටයුතු කාර්යක්‍ෂමව හා කඩිනමින් ඉටුකර ගැනීමට.
05. නවීන තාක්‍ෂණය උපයෝගී කරගනිමින් ගණුදෙනු වේගවත්ව හා ක්‍රමවත්ව සිදුකර ගැනීමට. උදා :- ATM
06. ව්‍යාපාරය පිළිබඳ ඇති ප්‍රමිතීන් හා නීති රෙගුලාසි දැනගැනීමට
07. වෙළඳපොළ තීරණ ගැනීමේදී දේශීය හා අන්තර්ජාතික වෙළඳපොළ තොරතුරු, තාක්‍ෂණය භාවිතයෙන් ඉක්මනින් ලබාගැනීම.
08. නිෂ්පාදනය පිළිබඳ පුළුල් පරාසයක පාරිභෝගිකයන් හට වෙළඳ ප්‍රචාරයක් ලබාදීම.
09. කාලීනව වෙනස්වන තොරතුරු ඉක්මනින් ලබාගැනීමට හැකිවීම නිසා නිෂ්පාදන ක්‍රියාවලියේ තීන්දු තීරණ වෙනස් කිරීම.
10. අන්තර්ජාතික වෙළඳපොළට පිවිසීමේ විභවය වැඩිකිරීම.
11. වෙළඳපොළ විභවය පිළිබඳ තොරතුරු ලබාගැනීමට.

*(කරුණු 05 ක් සඳහා ලකුණු 03 බැගින් 3 x 5 = 15 )*
*(කරුණු 05 ක් විස්තර කිරීම සඳහා ලකුණු 05 බැගින් 5 x 5 = 25 )*





**(iii) ජීවන රටාවේ සිදුවූ වෙනස්කම් නිසා ශ්‍රී ලාංකිකයින්ගේ සම්ප්‍රදායික ආහාර පුරුදු වල සිදුවී ඇති වෙනස්කම් විස්තර කරන්න.**

**සාම්ප්‍රදායික ආහාර පුරුදු යනු, -**

දිගුකාලීන භාවිතය තුළින් යෝග්‍ය යැයි සම්මත සමාජය විසින් පිළිගන්නා ආහාර සම්බන්ධයෙන් ඇති පුරුදු වේ.

*(ලකුණු 05 )*

**සිදුවී ඇති වෙනස්කම් -**

01. සමබල ආහාරයකින් ඈත් වී මහා පෝෂක අඩංගු ආහාර වලට යොමුවීම නිසා විටමින්, ඛනිජ අඩුවීම.

02. දේශීය ආහාර පරිභෝජනය අඩු වී ක්ෂණික ආහාරවලට ඇබ්බැහි වීම.

03. තන්තු සහිත එළවළු, පළතුරු භාවිතය අඩු වීම.

04. අවම සැකසූ ආහාරවලට වැඩි කැමැත්තක් දැක්වීම.

05. ක්ෂණික ආහාර වැඩිපුර පරිභෝජනය.

06. ප්‍රාදේශීයව බහුල ගුණාත්මක පළතුරු වෙනුවට විදේශයෙන් අපනයනය කළ පළතුරු වැඩිපුර පරිභෝජනය.

07. ස්වභාවික නැවුම් ධාන්‍ය වර්ග පරිභෝජනය වෙනුවට ක්ෂණික ආහාර ලෙස සැකසූ ධාන්‍යමය ආහාර පරිභෝජනය

08. ස්වභාවික ශාකමය තැඹිලි, කුරුම්බා වැනි පාන වර්ග භාවිතයෙන් ඈත්වී කෘතිම ක්ෂණික බීම වර්ග පානය කිරීම.

09. සංශුද්ධ පිෂ්ඨමය ආහාර බහුලව භාවිතය නිසා තන්තු නොලැබීයාම.

10. කාර්මීකරණය හා නාගරීකරණය සමඟ ඇති වූ කාර්යබහුලත්වය නිසා ප්‍රධාන ආහාරවේල් මගහැරී යාම.

11. සැකසීමට අපහසු එළවළු, පළතුරු පරිභෝජනයෙන් ඈත්වීම.

12. ආහාර සැකසීමට වැරදි ක්‍රමවේද යොදා ගැනීම නිසා පෝෂණ ගුණය අඩුවීම.

***(කරුණු 09 ක් සඳහා ලකුණු 02 බැගින් 2 x 9 = 18 )***
***(කරුණු 09 ක් විස්තර කිරීම සඳහා ලකුණු 03 බැගින් 3 x 9 = 27 )***





**06. (i) බෝග නිෂ්පාදනය කෙරෙහි පරිසර උෂ්ණත්වයේ බලපෑම විස්තර කරන්න.**

බෝග නිෂ්පාදනය යනු - ආර්ථික වාසිදායක තත්වයන් උදාවෙන අයුරින් බෝගයේ වර්ධනය හා අස්වැන්න වැඩි කිරීමයි.

***(ලකුණු 10)***

1. ප්‍රභාසංස්ලේෂණය සිදුවීමට.
   උෂ්ණත්වය වැඩි වීම සමඟ ශාකවල කායික ක්‍රියාවලි වේගවත් වී ආහාර නිෂ්පාදනය වැඩි වේ. අස්වැන්න වැඩි වේ.

2. සමහර ශාකවල පුෂ්පීකරණයට
   ගෝවා, කැරට්, වැනි ශාකවල පුෂ්පීකරණයට අඩු උෂ්ණත්වය වැදගත් වේ.

3. ආකන්ද මූලාරම්භය සඳහා
   දිවා කාලයේ වැඩි උෂ්ණත්වයක් හා රාත්‍රී කාලයේ අඩු උෂ්ණත්වයක් පැවතීමෙන් ආකන්ද වර්ධනය සිදුවේ.

4. ශාක රෝග ව්‍යාප්තියට
   අඩු උෂ්ණත්වයේ දී දිලීර රෝග ව්‍යාප්ත වේ. මේ නිසා නිෂ්පාදනය අඩු වේ.

5. පළිබෝධ හානි වැඩිවීමට
   උෂ්ණත්වය වැඩිවන විට පළිබෝධකයන්ගේ ජීවන චක්‍රය කෙටි කාලයකින් අවසන් කර ඔවුන්ගේ ගහනය වැඩිවීමෙන් බෝග හානි වැඩි වේ.

6. උත්ස්වේදනය වැඩි වේ.
   උෂ්ණත්වය වැඩිවන වන උත්ස්වේදනය වැඩි වී ශාක ජල ඌනතාවයකට පත් වී මැලවීම සිදු වේ. අස්වැන්න අඩු වේ.

7. ශාක පටක පිළිස්සී යාම.
   උෂ්ණත්වය අධික ලෙස අඩු වූ විට ශාක අභ්‍යන්තරයේ ජලය සිසිල් වී, අයිස් කැට සෑදී ශාක පටක වලට හානි සිදුවී අස්වනු අඩු වේ.

8. හෝමෝන ක්‍රියාකාරීත්වයට
   උෂ්ණත්වය වැඩි වන විට හෝමෝන ක්‍රියාකාරීත්වය වැඩි වී ශාකවල පුෂ්පීකරණය, ඵල හට ගැනීම, මුල් ඇද්දවීම වේගවත් වී අස්වනු වැඩි වේ.

***(ලකුණු 5 බැගින් කරුණු 08 කට 5 x 8 = 40)***





06. **(ii) සාර්ථක ව්‍යවසායකයෙකුට සිය ව්‍යාපාරය තිරසාරව කරගත හැකි ආකාරය පැහැදිලි කරන්න.**

01. තිරසාරව ව්‍යාපාරය පවත්වා ගැනීම සඳහා එය මනාව කළමනාකරණය කරගත යුතුය.

02. සැලසුම්කරණය - යා යුතු තැන, නිර්ණායක, යන ක්‍රමය හා අවශ්‍ය සම්පත්

03. සංවිධානය - මානව සම්පත්, ද්‍රව්‍යමය සම්පත්, මූල්‍යමය සම්පත් හා කාලය සංවිධානය කිරීම.

04. ව්‍යාපාරය මනා ලෙස මෙහෙය වීම - නායකත්ව ලක්‍ෂණ පෙන්නුම් කිරීම.

05. ප්‍රගති පාලනය, නියාමනය හා ඇගයීම

06. අලෙවි සැලසුම් සකස් කිරීම.

07. නිෂ්පාදන හා තාක්‍ෂණ සැලැස්ම සැකසීම




08. අවශ්‍ය මානව සම්පත් සැලැස්ම සකස් කිරීම

09. මූල්‍ය සැලැස්ම සකස් කිරීම, මූල්‍ය ප්‍රකාශ පිළියෙල කිරීම, මූල්‍ය සැලසු ම් ආශ්‍රයෙන් ව්‍යාපාරය පිළිබඳ තීරණ ගැනීම.

***(කරුණු 05 ක් නම් කිරීම සඳහා ලකුණු 05 බැගින් 5 x 5 = 25)***
***(කරුණු 05 ක් විස්තර කිරීම සඳහා ලකුණු 05 බැගින් 5 x 5 = 25 )***

**06. (iii) ජලජ පරිසර පද්ධතියක තිරසාර බව කෙරෙහි මානව ක්‍රියාකාරකම් වල බලපෑම විස්තර කරන්න.**

**ජලජ පරිසර පද්ධතියක් යනු, ජීවී අජීවී සංඝටකවලින් සැදුම් ලත් ජලීය මාධ්‍යයක් සහිත ස්ථානයක් ජලජ පරිසර පද්ධතියක් වේ.**

***(ලකුණු 10)***

1. පහත් බිම් ගොඩ කිරීම - සුළු වර්ෂාවකදී පවා ගංවතුර ඇති වේ. පොළවට උරාගන්නා ජලප්‍රමාණය අඩු වී ජල උල්පත් සිඳී යයි.

2. වනාන්තර එළි කිරීම - පාංශු ඛාදනය වී ජලාශ ගොඩවීම.

3. කෘෂි කාර්මික කටයුතු - පොහොර හා කෘෂි රසායනික ද්‍රව්‍යය ජලය සමඟ සෝදී ගොස් ජලාශ වලට එකතු වීම. ජලය සුපෝෂණයට ලක්වීම.

4. මැණික් ගැරීම - පස සෝදී ගොස් ජලාශ ගොඩවීම. ජලයේ බොර බව ඇති වී ජලජ ජීවීන්ට අහිතකර තත්ව ඇති වීම.

5. ජලජ පරිසර පද්ධතිවල යාත්‍රාචරණය යාත්‍රා වලින් පිටකරන තෙල් ජලයට එකතුවීම. නෞකා අනතුරු වලදී ජලජ පරිසර දූෂණය. කොරල් පරවලට හානි සිදුවීම.

6. විවිධ හානිකර ආම්පන්න හා ක්‍රියාකාරකම් නිසා ජලජ පද්ධති දූෂණය - අහිතරකර පන්න භාවිතය.

7. වැලි ගොඩ දැමීම.

8. ජලජ මසුන් මැරීමට නුසුදුසු ක්‍රම භාවිතය, ඩයිනමයිට් වැනි පුපුරණ ද්‍රව්‍යය භාවිතය.

9. අනිසි ලෙස ජලජ ජීවීන් ස්වභාවික පරිසර පද්ධතිවලට එක්කිරීම.
   උදා :- පිරානා, මන්නාවා වැනි මාලු
   (ආක්‍රමණශීලී සහ ආගන්තුක විශේෂ ව්‍යාප්තිය)

10. වෙරළාසන්න ප්‍රදේශවල සංවර්ධන කටයුතු සඳහා කඩොලාන ශාක කැපීම.

11. මුහුදු ජලය රට අභ්‍යන්තරයට පැමිණීම. (Salt Water Intrution)

***(ලකුණු 5 බැගින් කරුණු 08 කට 5 x 8 = 40)***





07. (i) **ශ්‍රී ලංකාවේ තෝරාගත් පළතුරු බෝගයක ගොවිපළේ සිට පාරිභෝගිකයා අතට පත්වීම දක්වා සිදුවන පසු අස්වනු හානි අවම කිරීමට යොදාගන්නා ක්‍රියාමාර්ග විස්තර කරන්න.**

පසු අස්වනු හානිය - බෝගයක අස්වනු නෙළීමේ සිට පරිභෝජනය දක්වා කාලය තුළ අස්වැන්නට සිදුවන ප්‍රමාණාත්මක හා ගුණාත්මක හානි.

*(ලකුණු 10 )*

පළතුරු බෝගය නම් කිරීම - ........................ *(ලකුණු 05 )*

**පසු අස්වනු හානි**

1. අස්වනු නෙලීමේදී ..............................
2. අස්වනු පිරිසිදු කිරීමේදී ..............................
3. අස්වනු ඇසිරීමේදී ..............................
4. ගබඩා කිරීමේදී ..............................
5. සැකසීමේදී .............................. *(ලකුණු 2x5 = 10)*

**හානි අවම කර ගැනීමේ ක්‍රම**

- අස්වනු නෙලන වේලාව - ..............................
- අස්වනු නෙලීමට සුදුසු පරිණත අවධිය - ..............................
- යෝග්‍ය නෙලීමේ ක්‍රමය - ..............................
- අස්වනු පිරිසිදු කිරීමේ ක්‍රමය - ..............................
- අස්වනු ශ්‍රේණිගත කිරීම හා සැකසීම - ..............................
- සුදුසු ප්‍රවාහන ඇසුරුම - ..............................
- ගබඩා කිරීමේ ක්‍රමය - ..............................

*(ලකුණු 5x5 = 25)*

**07. (ii) තොරතුරු තාක්ෂණය භාවිතයේ දී සදාචාරාත්මක හැසිරීමේ (Ethical Conduct) වැදගත්කම විස්තර කරන්න.**

**තොරතුරු තාක්ෂණය භාවිතයේ දී සදාචාරාත්මක හැසිරීම -**

තොරතුරු තාක්ෂණ වෘත්තීයවේදීන් විසින් සමාජ වටිනාකම් හා සදාචාරය අනුව සුදුසු යැයි පිළිගත් සදාචාරාත්මක ගුණාංග සමූහයක් අනුව තාක්ෂණය භාවිතා කිරීම.

*(ලකුණු 10 )*

01. මිනිසුන්ගේ මූලික අයිතිවාසකම් ආරක්ෂා කිරීම.

02. ජනතාව කුපිතවන ආකාරයේ තොරතුරු වාර්තා නොකිරීම. එමගින් රටේ කලහකාරී තත්වයන් වළක්වාගෙන කටයුතු කළ හැක.

03. ජාති, ආගම් අතර මතගැටුම් ඇති නොවන සේ ක්‍රියාකිරීම. එමගින් ජාති, ආගම් අතර සුහදතාවය වර්ධනය වේ.

04. සාවද්‍ය හෝ විකෘති කරන ලද තොරතුරු සම්ප්‍රේෂණය කිරීමෙන් වැළකීම.

    තොරතුරු තාක්ෂණයෙන් විකාශනය කෙරෙන තොරතුරු මත පදනම්ව බොහෝ සැලසුම්, ප්‍රගති වාර්ථා, ව්‍යාපෘති යෝජනා සකස් කෙරේ. එම තොරතුරු සාවද්‍ය වූ විට ඒවා පාදක කර ගනිමින් ගොඩනැගෙන සියලුම සැලසුම් වාර්ථා ඵල රහිත වේ.

05. අනවසරයෙන් පුද්ගලික ඔත්තු බැලීම හා අනවසරයෙන් වෙනත් පුද්ගල තොරතුරුවලට ඇතුල්වීමෙන් වැළකීම.

06. රටේ සංස්කෘතියට හානියක් නොවන ආකාරයට තොරතුරු තාක්ෂණය භාවිතා කිරීම.

07. තොරතුරු තාක්ෂණයට නිවැරදි තොරතුරු ලබාදීම.

***(ලකුණු 5 බැගින් කරුණු 08 කට 5 x 8 = 40)***

07. (iii) **ශ්‍රී ලංකාවේ එදිනෙදා ජීවිතයේ නිපදවන අපද්‍රව්‍යය කළමනාකරණයේදී 3R සංකල්පය යොදා ගැනීම උදාහරණ සහිතව විස්තර කරන්න.**

අපද්‍රව්‍යය - සෘජු භාවිතයට නොගන්නා නිෂ්පාදන හෝ පරිභෝජන ක්‍රියාවලියේදී ඉවතලන ද්‍රව්‍යය.

අපද්‍රව්‍යය කළමනාකරණය කළ හැකි ක්‍රම 03 ලෙස 3R සංකල්පය වැදගත් වේ.

*(ලකුණු 05 )*

(1) **කසල උද්පාදනය අඩු කිරීම (Reuse)**

- මිලදී ගන්නා විට අපද්‍රව්‍යය අඩු කර ගැනීම.
  උදා : මාලු මිලදී ගන්නා විට ආහාරයට ගන්නා කොටස පමණක් ගැනීම.
- ඇසුරුම් ප්‍රතික්ෂේප කිරීම - උදා : .........................
- ජෛව හායනය නොවන ද්‍රව්‍යය සහිත සම්පත් භාවිතය අවම කිරීම උදා : ..................
- එක් භාණ්ඩයක් වෙනුවට භාණ්ඩයක් භාණ්ඩ කිහිපයක් එකම ඇසුරුමක ඇති ද්‍රව්‍යය මිලදී ගැනීම. උදා : ......................
- භාණ්ඩ තොග ලෙස ගැනීම තුළින් ඇසුරුම් ප්‍රමාණ අඩු කිරීම. උදා : .....................

(2) **නැවත භාවිතය (Reuse)**

- යම් ද්‍රව්‍යයක් හෝ උපකරණයක් ඉවත් කිරීමට පෙර හැකි තරම් භාවිතා කිරීම
  උදා : ............................
- කඩදාසි, ප්ලාස්ටික් ඇසුරුම්, ඉදිකිරීමේ ද්‍රව්‍යය වැනි ප්‍රතික්ෂේප කළ නොහැකි සෑම ද්‍රව්‍යයක්ම නැවත භාවිතා කිරීම. උදා : ............................

(3) **ප්‍රතිචක්‍රීකරණය (Recycle)**

- අපද්‍රව්‍යය වල ඇති මූල සංඝටක (Material) නැවත නිෂ්පාදන ක්‍රියාවලියට යොදා ගැනීම.
- අනවශ්‍යය ද්‍රව්‍යයක් ලෙස ඉවත් කළ අපද්‍රව්‍යය විවිධ ක්‍රියාවලියට භාවිතා කිරීමෙන් පසු පෙර තිබූ පරිදි භාවිතයට ගැනීම සඳහා සුදුසු තත්ත්වයට පත් කිරීම.
- අපද්‍රව්‍යය රසායනික ජෛව හෝ භෞතික වෙනස්කමකට භාජනය කරමින් නැවත ප්‍රයෝජනයට ගැනීම. උදා : පොලිතින්, කඩදාසි, ලෝහ

*(එක් සංකල්පයකට ලකුණු 5 බැගින් කරුණු 03 කට 5 x 3 = 15)*

*(විස්තරයට ලකුණු 5 බැගින් කරුණු 03 කට 5 x 3 = 15)*

*(උදාහරණයකට ලකුණු 5 බැගින් කරුණු 03 කට 5 x 3 = 15)*

# ආහාර තාක්ෂණවේදය - 2018

## C - කොටස

08. (i) **පුද්ගලයෙකුගේ දේහ ක්‍රියාකාරීත්වයට අදාළව ආහාරයේ වැදගත්කම විස්තර කරන්න.**

**ආහාරය යනු, පුද්ගලයෙකුගේ ශරීර වර්ධනය හා පරිවෘත්තිය ක්‍රමවත්ව පවත්වා ගැනීමට අවශ්‍ය ශක්තිය ලබාදීමට, ප්‍රතිශක්තිකරණය, ඇති කිරීමට දායක වන පෝෂක එකක් හෝ කිපයක් අඩංගු ශාක හෝ සත්ව සම්බන්ධයකින් යුත් නිෂ්පාදනයකි.**

*(ලකුණු .10)*

වැදගත්කම :-

1. ශරීරයට ශක්තිය ලබාදීම, ප්‍රතිශක්තිකරණය, ශරීරවර්ධනය සඳහා අවශ්‍ය වීම. එම නිසා නීරෝගි පුද්ගලයෙකුට අවශ්‍ය සමබල ආහාර වේලක් වැදගත් වේ.
   උදා :- කාබෝහයිඩ්‍රේට්,ප්‍රෝටීන,ලිපිඩ,විටමින්

2. වර්ධන අවධියේ සිටින පුද්ගලයින්ගේ අස්ථි දත්, වර්ධනය කර නිරෝගී සිරුරක් ලබාදීම.

උදා :- Ca, P. (ආහාර වර්ග, කුඩා මාළු, පළා වර්ග, කිරි, ධාන්‍ය වර්ග)

3. බර වැඩෙහි යෙදෙන ශ්‍රමිකයන් සඳහා ශක්ති ජනක ආහාර වැඩිපුර ලබාගැනීම.
   උදා :- කාබෝ, මේදය.

4. මානසික ශ්‍රමය වැය කරන පුද්ගලයන් කය වෙහෙසා වැඩ නොකරන බැවින් තන්තු වැඩි, විටමින් ඛනිජ ලවණ වැඩි සැහැල්ලු ආහාර ලබාගැනීම. (පළතුරු හා එළවළු)

5. වයෝවෘද්ධ පුද්ගලයන්ගේ කායික ක්‍රියාකාරීත්වය අඩු බැවින් ශක්ති ජනක ආහාර අඩුවෙන් ගතයුතු වීම.

6. ශාරීරික ක්‍රියාකාරීත්වය අධික ක්‍රීඩකයන් සඳහා කාබෝ, මේද, ප්‍රෝටීන් අධික ආහාර ලබාදීම.

7. වර්ධන අවධියේ සිටින දරුවන් ට හා ගැබිණි මව්වරුන්ට ප්‍රධාන පෝෂකවලට අමතරව විටමින් හා ඛනිජ ලවණ බහුලව අඩංගු ආහාර දෛනිකව ලබා දීම.

(කරුණු 5 x 8 = 40 )





**(ii) පාන් නිෂ්පාදනයේ ඒකක ක්‍රියාකාරකම් පැහැදිලි කරන්න.**

පාන් යනු, තිරිඟු පිටිවලට යීස්ට්, මේදය, සීනි, ජලය, එකතු කර මෝලිය සකසා පැසවීමට ලක්කර උඳුනක පුළුස්සා නිපදවන ආහාරයකි.



**(iii) රසායනික සංයුතිය විශේෂ අවධානයට ගනමින් පොල්තෙල් වල සෞඛ්‍යමය වාසි විස්තර කරන්න.**

පොල්මදය අමුද්‍රව්‍ය ලෙස යොදා ගනිමින් ලබාගන්නා ද්‍රවමය තත්වයේ පවතින මේදමය පොල්තෙල් වේ.

**<u>සෞඛ්‍යමය වාසි :-</u>**

1. පොල්තෙල් -වල අන්තර්ගත කැරටොනොයිඩ වර්ණක මගින් දේහයේ පිළිකා මර්දන හැකියාව ලබාදීම.
2. ශරීරයට අවශ්‍ය විටමින් E ලබාදීම.
3. මේද ද්‍රාව්‍ය විටමින් ශරීරය පුරා පරිවහනයට දායකවීම
4. සම වියළීමෙන් ආරක්ෂා කර පැහැපත් බව පවත්වා ගැනීම.
5. හිසකේ වර්ධනයට හා එහි නිරෝගී බව ආරක්ෂා කිරීම.
6. මධ්‍යම දාම සංතෘප්ත මේද අම්ල බහුල බැවින් ජෛවීය කොලෙස්ට්‍රෝල් නිපදවීමට දක්වන දායකත්වය අඩු වීම.
7. ඒක අසංතෘප්ත මේද අම්ල බහුලවීම මගින් සෞඛ්‍යදායක ජීවිතයකට පහසුකම් සැපයීම.
8. 20% ක් වන දිය දාව මේදඅම්ල දේහයට අවශ්‍ය ප්‍රමාණයෙන් එම සංයෝග සපයන ප්‍රභවයක් වීම.
9. දේහයේ තැන්පත් නොවී සම්පූර්ණයෙන් ශක්තිය නිපදවීමට යෙදවීම.

*(හැඳින්වීම -ලකුණු 10)*

*(ඕනෑම කරුණු 8 කට - ලකුණු 2 x 8 = 16)*

*(කරුණු 8 ක් විස්තර කිරීම = 3 x 8 = 24)*

*(මුළු ලකුණු = 50 )*

**9. (i) ශ්‍රී ලාංකීය කුළුබඩු සඳහා ජාත්‍යන්තර වෙළඳපොළ පුළුල් කිරීමට ගත හැකි පියවර විස්තර කරන්න.**

කළුබඩු යනු, ආහාර සැකසීමේදී, රසය, වර්ණය, සුවඳ වැඩිකිරීම හා පරිරක්ෂණය වැනි ක්‍රියා සඳහා භාවිතා කරන ශාකමය සම්භවයක් සහිත ද්‍රව්‍ය වේ.

**<u>පුළුල් කිරීමට ගත හැකි පියවර -</u>**

1. ගුණාත්මකව හා උසස් ප්‍රමිතියකින් යුතුව නිෂ්පාදනය කර ඉදිරිපත් කිරීම.
2. බලියො රෙසින, සගන්ධ තෙල් ආකාරයෙන් නිපදවා හඳුන්වා දීම.
3. ආහාර රසවත් කළ හැකි විවිධ ක්‍රම සඳහා භාවිතාකැරන ආකාර හඳුන්වාදීම.
4. කුළුබඩු භාවිතයේ ඖෂධීය වටිනාකම හා සෞඛ්‍යමය වාසි පිළිබඳ ජාත්‍යන්තර ප්‍රජාව දැනුවත් කිරීමේ වැඩසටහන් ක්‍රියාත්මක කිරීම.
5. භාවිතයට පහසු ලෙස නව නිෂ්පාදන ලෙස ඉදිරිපත් කිරීම.

*(හැඳින්වීම -ලකුණු 10)*
*(ඕනෑම කරුණු 5 කට - ලකුණු 2 x 5 = 10)*
*(කරුණු 5 ක් විස්තර කිරීම = <u>6 x 5 = 30</u>)*
*(මුළු ලකුණු = 50 )*

**(ii) ආහාර ආරක්ෂණයට ඇසුරුම්කරණයේ ඇති වැදගත්කම විස්තර කරන්න.**

ආහාර ඇසුරුම්කරණය යනු, නිෂ්පාදන ස්ථානයේ සිට අවසාන පාරිභෝගිකයා තෙක් ආරක්ෂිතව, නාස්තිය අවම වනසේ, මෙවලමක් හෝ මෙවලම් සමූහයක් තුළ ආහාරය අඩංගු කිරීමේ තාක්ෂණය වේ.

**<u>වැදගත්කම :-</u>**

(1) ක්ෂුද්‍රජීවීන්, ජලය, වාතය අලෝකය ඇතුලුවීම හෝ පිටවීම වැළැක්වීම මගින් ආහාරයේ ගුණාත්මය පවත්වා ගැනීම.

(2) ක්ෂුද්‍රජීවීන්, ජලය, වාතය අලෝකය ඇතුලුවීම හෝ පිටවීම වැළැක්වීම මගින් ආහාරයේ ආරක්ෂිත තාවය පවත්වා ගැනීම.

(3) ප්‍රවාහනය, ගබඩාකිරීම, බෙදාහැරීම පහසුකිරීම.

(4) යාන්ත්‍රික හානි වලින් වළකා ගැනීම.

(5) වරින්වර භාවිතා කිරීමේදී ආරක්ෂිත ආවරණයක් සේ පවත්වාගෙන යාම.

*(හැඳින්වීම -ලකුණු 10)*
*(ඕනෑම කරුණු 5 කට - ලකුණු 2 x 5 = 10)*
*(කරුණු 5 ක් විස්තර කිරීම = <u>6 x 5 = 30</u>)*
*(මුළු ලකුණු = 50 )*

**9. (iii) පාරිභෝගික ආරක්‍ෂාව සැලකීමේදී තත්ව ප්‍රමිති වල වැදගත්කම විස්තර කරන්න.**

පාරිභෝගිකයා ගනු ලබන ආහාර ද්‍රව්‍යවල පැවතිය යුතු ගුණාංග, ඒවා තිබිය යුතු ආකාරයෙන්ම පවතින බවට සහතික කිරීම ආහාරතත්ව ප්‍රමිතිකරණය නම් වේ.

**<u>වැදගත්කම :-</u>**

(1) පාරිභොගිකයා ආරක්‍ෂා වීම හා විශ්වාසය දිනාගැනීම නිසා එම ආහාර පරිභෝජනය වැඩිවීම.

(2) තත්වයෙන් උසස් ආහාර සඳහා වැඩි ඉල්ලුමක් පැවතීම නිසා නිෂ්පාදකයාට වාසි සහගත වීම.

(3) කිසියම් ආහාරයක අනන්‍යතාව, උසස් බව සහතික වීම.

(4) තත්වයෙන් උසස් ආහාර පරිභෝජනය නිසා සෞඛ්‍ය ගැටලු අවම වීම.

(5) සම්පත් උපයෝජන කාර්යක්‍ෂමතාව වැඩි වී නාස්තිය අඩුවීම.

(6) උසස් තත්වයේ ආහාර නිෂ්පාදන අපනයනය කිරීම වැඩිකර ගත හැකි වීම හා වැඩිපුර විදේශ විනිමය උපයාගත හැකි වීම.

(7) උසස් ප්‍රමිතියකින් යුත් ආහාර නිපදවීම මගින් ආයතනයක ඵලදායීතාවය වැඩිකරගත හැකි වීම.

(8) තමා මිලදී ගන්නා හා පරිභෝජනය කරන භාණ්ඩ පිළිබඳව සැබෑ තොරතුරු පාරිභෝගිකයා දැනුවත් වීම.

(9) අහිතකර රසායන ද්‍රව්‍ය එකතු වීම වැළැක්වීම ක්‍ෂුද්‍රජීවී මර්දනය, වැනි කටයුතු නිසා සිදුවිය හැකි ආහාර නරක්වීම අඩුවීම.

(10) ආහාර අපවිත්‍ර වීම, අඩුවීම තුළින් නීතිමය ගැටලු වලට මුහුණ දීමට සිදු නොවීම.

*(හැඳින්වීම - ලකුණු 10)*

*( කරුණු 8 ක් දැක්වීම - ලකුණු 2 x 8 = 16)*

*(කරුණු 8 ක් විස්තර කිරීම = <u>3 x 8 = 24</u>)*

*(මුළු ලකුණු = 50 )*





**10. (i) "ආහාර අපවිත්‍රණය වීම සෞඛ්‍ය ගැටළු ඇති කළ හැක."**
**මෙම ප්‍රකාශය පිළිබඳව අදහස් දක්වන්න.**

ආහාර අපවිත්‍රණය යනු, ආහාර නිෂ්පාදනය කරන අවස්ථාවේ සිට පරිභෝජනයට ගන්නා තෙක් කාලය තුළ ආහාර වලට භෞතික, රසායනික හා ජෛවීය සාධක එකතුවීමෙන් පරිභෝජනයට නුසුදුසු තත්වයට පත්වීම වේ.

**සෞඛ්‍ය ගැටලු ඇතිවන ආකාරය -**

1. සහල් වැනි ධාන්‍ය වලට භෞතික අපද්‍රව්‍ය වන ගල්,වැලි, යකඩ ඇණ, බොත්තම්, ස්ටේප්ලර් කටු වැනි දෑ එකතු වීමෙන් , ඒවා ආහාර සමඟ ශරීර ගත වී භෞතික තුවාල ඇතිවීම.

2. පානීය බීම වර්ග සැකසීමේදී අපිරිසිදු ජලය භාවිතා කිරීමෙන් ව්‍යාධි ජනක ක්ෂුද්‍රජීවීන් එකතු වී ආහාර සමඟ ශරීර ගත වී පාචනය, වමන, උණසන්නිපාතය වැනි රෝග වලට ගොදුරු වීම.

3. ආහාරයට නුසුදුසු ආහාරමය නොවන වර්ණක වර්ග එකතු වීමෙන් පිළිකා රෝග තත්ව ඇතිවිය හැකි වීම.

4. කෘෂි රසායන එකතුවීමෙන් හා බැර ලෝහ අයන ශරීර ගතවීමෙන් පිළිකා කාරක වීම.

5. ඉන්ධන වර්ග එකතුවීම නිසා බැර ලෝහ අයන ශරීර ගතවීමෙන් නිදන්ගත රෝග වලට හේතු වීම.

6. කෘමි සතුන් මගින් ආහාර අපවිත්‍ර වීම නිසා පාචනය,වමනය,වැනි රෝග වලට ගොදුරු වීම හා විෂවීම, ආසාත්මිකතා ඇතිවීම.

7. පරිරක්ෂක ලෙස යොදන සමහර ආකලන හේතුවෙන් ආබාධ, ආසාත්මිකතා, විෂවීම් ඇතිවීම.

8. අපිරිසිදු ගබඩා තත්ව යටතේ මස්, මාළු ආශ්‍රිත නිෂ්පාදන වලට ආහාර විෂ ඇති කරන ක්ෂුද්‍රජීවීන් එකතුවීමෙන් මරණය පවා සිදුවීම.

9. ආහාර සැකසුම් කරුවන්ගේ අපිරිසිදු බාවය හා නොසැළකිල්ල නිසා ආහාර වලට අපද්‍රව්‍ය හෝ ක්ෂුද්‍රජීවීන් ඇතුළුවීම.

10. ආහාර නිෂ්පාදනයේදී යොදාගනු ලබන අපද්‍රව්‍ය නියමිත ආරක්ෂිත තත්වයෙන් නොපැවතීම නිසා නිෂ්පාදිත ආහාර අනාරක්ෂිත වීම.

11. ආහාර අවසන් සැකසීමේදී හා පරිභෝජනයේදී නියමිත සෞඛ්‍ය පුරුදු නොපිළිපැදීම.

12. ආහාර ඇසුරුම් සඳහා යොදාගනු ලබන ඇසුරුම් ද්‍රව්‍ය ආහාර ඇසුරුම්කරණයට යෝග්‍ය නොවන අවස්ථාවලදී එමඟින් රසායනික ද්‍රව්‍ය ආහාරයට එකතුවීම.

13. ආහාර නිෂ්පාදනයේදී ඇතිවිය හැකි සෞඛ්‍යයට අහිතකර රසායනික නිසා රෝගී තත්වයන්ට පත්වීම. (උදා :- එකම තෙත් ගැඹුරු තෙලේ බැදීමට යොදාගැනීම නිසා - Trans -Fat ඇතිවීම.)

*(හැඳින්වීම -ලකුණු 10)*

*( කරුණු 8 ක් දක්වීම - ලකුණු 2 x 8 = 16)*

*(කරුණු 8 ක් විස්තර කිරීම = 3 x 8 = 24)*

*(මුළු ලකුණු = 50 )*





**10. (ii) ආහාර සැකසීමේදී හා පරිරක්ෂණය කිරීමේදී විජලන තාක්ෂණ වල යොදා ගැනීම පැහැදිලි කරන්න.**

**ආහාර සැකසීම යනු,**

යම් ආහාරයක් පරිභෝජනයට ගත හැකි ආකාරයට පිළියෙල කිරීම වේ.

***(ලකුණු 10)***

**පරිරක්ෂණය යනු,**

ආහාර නරක් වීමට බලපාන සාධක කෘතීමව පාලනය කර ආහාර කල් තබා ගැනීම වේ.

**විජලන තාක්ෂණය යනු,**

ආහාරවල ඇති ජලය විවිධ ආකාරයෙන් ඉවත් කිරීම වේ.

**<u>විවිධ විජලන තාක්ෂණ යොදාගැනීම්</u>**

1. විවෘත හිරු එළියේ වියළීම.
   ආහාරය පිරිසිදු මතුපිටක් මත දමා සූර්යාලෝකය සෘජුව ආහාරය මත වැටීමට සලස්වා එමගින් ලැබෙන තාපය මගින් ජලය ඉවත් වීමට ඉඩ සැලසීම.
   වියළීමේ සීඝ්‍රතාව හිරුඑළියේ තීව්‍රතාව මත රඳා පවතී.
   උදා :- දෙල්, කොස්, ගොරකා, ධාන්‍ය වගී වියළීම.

2. සූර්යතාප වියළනය මගින් වියළීම.
   විශේෂයෙන් සකස් කළ ඇටවුමක් වන සූර්යතාප වියලනය තුළ ආහාර තැන්පත් කර හිරු එළිය මගින් උපකරණයේ ඇතුළත රත්වීම නිසා ඇතිවන උෂ්ණත්වය මගින් ආහාරයේ ඇති ජලය සංවහන ක්‍රියාවලිය මගින් ඉවත් කිරීම. විවෘත වියළීමට සාපේක්ෂව ඉහළ උෂ්ණත්වයක් ලබාගත හැකි නිසා විජලනය වේගවත් වේ.

   උදා :- කරවිල, වම්බටු, පොල්, කොස්, දෙල්

3. දුම්ගසා වියළීම
   ලී මැස්සක් මත තැන්පත් කර, සැහැල්ලු දර දහනය මගින් ඇතිකරන දුමට ආහාරය නිරාවරණය වීමට සැලසීමෙන් උණුසුමට ලැබෙන දුම නිසා ආහාරයේ ජලය ඉවත් වීම.

   උදා :- ගොරකා, කොස්, දෙල් , ධාන්‍ය

4. අසෘතික විජලනය -
   සාන්ද්‍රණය වැඩි ලුණු, සීනි වැනි ද්‍රාවණයක් තුළට විජලනය කළයුතු ආහාරය එකතු කර එමගින් ආහාරයේ ඇති ජලය ඉවත් කිරීම. ද්‍රාවණය වෙනුවට සීනි, ලුණු වල කුඩු ආහාර සමඟ මිශ්‍ර කිරීමද කළ හැකි ය.
   උදා :- මාළු වලට ලුණු දමා කරවල වියළීම.
   මී පැණි වල මස් ගිල්වා තැබීම.
   සීනි දමා පළතුරු විජලනය

5. විසිරි වියලනය - (කිරිපිටි, ක්ෂණික කෝපි)
   ඉහළ උෂ්ණත්වයක් හා අඩුපීඩණයක් යටතේ දියරමය ආහාරවල ඇති ජලය ඉවත්





කරගැනීම.

6. ඌෂ්ණ වියලනය

7. බෙර වියලනය - රත්වූ පෘෂ්ඨයක් මගින් දියරමය ආහාරයක් ඇති ජලය ඉවත් කර ගැනීම. ආහාරයේ ගුණ හානිවිය හැක. උදා :- පලළතුරු හා එළවළු පල්ප වලින් Flakes, Chips සාදා ගැනීම.

8. අධිශීත වියලනය - (ගුණාත්මය නොනැවතී පවත්වාගැනීමට අවශ්‍ය ඉහළ වටිනාකමකින් යුත් ආහාර නිෂ්පාදනය කිරීමට)
මෙහිදී ආහාරයේ ඇති ජලය ඌර්ධවපාතනය මගින් ඉවත් වන නිසා උෂ්ණත්වය ඉතා පහළ අගයක පවතී. (ආහාර ආකලන වර්ග නිපදවීමට)

***(හැඳින්වීම -ලකුණු 10)***

***( කරුණු 8 ක් දැක්වීම - ලකුණු 2 x 8 = 16)***

***(කරුණු 8 ක් විස්තර කිරීම = 3 x 8 = 24)***

***(මුළු ලකුණු = 50 )***

**10. (iii) මත්ස්‍ය නිෂ්පාදන නිපදවීමට භාවිත කරනු ලබන විවිධ සැකසුම් ක්‍රම විස්තර කරන්න.**

නැවුම් මාළු වලට විවිධ තාක්ෂණ ක්‍රමවේද භාවිතා කර නිෂ්පාදන සැකසීමයි.

**විවිධ සැකසුම් ක්‍රම :-**

1. මාළු බෝල/ මාළු සොසේජස්

★ නැවුම් මාළු වල කටු,හම ඉවත් කර පිරිසිදු ජලයෙන් සේදීම.
★ කුඩාවට කැබලි කර අයිස් කැට දමා ඇඹරීම.
★ අඹරාගත් මාළු වලට ලූනු, තිරිඟු පිටි, කෝන් ෆ්ලවර්, කුළුබඩු එකතු කර අයිස් කැටද දමා හොඳින් මිශ්‍ර කිරීම.
★ මිශ්‍රණය කුඩා කොටස් වලට කඩා බෝල සෑදීම
★ එම බෝල පැය 1/2 ක් පමණ නටන ජලයේ තැම්බීම
★ හොඳින් තැම්බුණු පසු බඳුනෙන් ඉවතට ගෙන, ඇසුරුම් කර අධිශීත තත්ව යටතේ ගබඩා කිරීම.

2. මාළු ටින් කිරීම

★ නැවුම් මාළු පරිරක්ෂක යොදා වායුරෝධක වන සේ ටින් වල ඇසිරීම.

3. දුම් ගසා වියළන කරවල

★ නැවුම් මාළු වල අනවශ්‍ය කොටස් ඉවත් කර මාළු වල බර ප්‍රමාණය අනුව ලුනු දමා පැය 12 ක් පමණ තබා පසුව පිරිසිදු ජලයෙන් සෝදා දුම් මැස්සක අසුරා සැහැල්ලු දර දහනයෙන් ඇතිවන දුමට මාළු නිරාවරණය කර එමගින් ජලය ඉවත් කිරීම.

4. යාන්ත්‍රිකව වියළන කරවල

- ★ අනවශ්‍ය කොටස් ඉවත් කරන ලද මාළුවලට බර අනුව ලුණු දමා පැය 12 ක් තබා පිරිසිදු ජලයෙන් සෝදා යාන්ත්‍රික විජලනයක් මගින් වියලා ගැනීම.

5. උම්බලකඩ

- ★ නැවුම් ලොකු මාළු තෝරා ගැනීම.
- ★ අනවශ්‍ය කොටස් ඉවත් කිරීම.
- ★ මාළුවා වැසෙන සේ ජලය දැමිය හැකි බඳුනක් ගෙන එයට ජලය දමා රස අනුව ලුණු සහ ගොරකා කැබලි කිහිපයක් දමා පැය 1/2 ක් පමණ තැම්බීම.
- ★ හොඳින් තැම්බුනු පසු මතුපිට සම සූරා ඉවත් කර මාළුවා දෙපලු කිරීම.
- ★ අස්ථිකොටස් සියල්ල ඉවත් කිරීම.
- ★ නැවත මාංශ දෙපලු කිරීම.
- ★ එම කැබලි කපු රෙදි කැබැල්ලක ඔතා මාංශය තද කිරීම.
- ★ පැය 01 ක් පමණ සැහැල්ලු දර දහනයෙන් ලැබෙන දුමට නිරාවරණය කිරීම.
- ★ පසුව සූර්‍යතාපයෙන් හෝ යාන්ත්‍රික වියළනයක් මගින් වියළීම.

*හැඳින්වීම -ලකුණු 10)*

*( සැකසුම් ක්‍රම 05 සඳහා විස්තර කිරීම ලකුණු 8 x 5 = 40)*

*(මුළු ලකුණු = 50 )*

6. ජාඩි

- ★ නැවුම් මාළු පිරිසිදු ජලයෙන් සේදීම.
- ★ අනවශ්‍ය කොටස් ඉවත් කිරීම.
- ★ අවශ්‍ය ප්‍රමාණයට කැබලි කැපීම.
- ★ ලුණු සහ ගොරකා අවශ්‍ය ප්‍රමාණයට ගෙන අඹරා ගැනීම.
- ★ ආහාර බඳුනක මාළු සහ ගොරකා ක්‍රීම් තට්ටුවෙන් තට්ටුව දමා අසුරා වසා පැසීමට තැබීම.